02292

## 2560 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2015 (2016)

(03) අභිධර්මය

S 3

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

2. (i) අත්ථසාලිනී නම් වූ ධම්මසංගනී අටුවාවට අනුව අභිධර්මයට නිදාන දෙකක් ඇති බව දැක්වෙයි. එම නිදාන දෙකින්

(අ) අධිගම නිදානයට උදාහරණ අවස්ථා දෙකක් ලියන්න. (ලකුණු 02 යි)

(ආ) දේශනා නිදානයට උදාහරණ අවස්ථා තුනක් ලියන්න. (ලකුණු 03 යි)

(ii) ථෙරවාදී විභජ්ජවාදී අභිධර්ම සම්ප්‍රදායයට අයත් සප්තප්‍රකරණය අතර ඇති "යමක ප්‍රකරණය හා පට්ඨාන ප්‍රකරණය" පිළිබඳව වෙන්වෙන්ව කෙටි සටහන් ලියන්න. (ලකුණු 06 යි)

(iii) "සප්පරියාය දේශනා" හා "නිප්පරියාය දේශනා" අතර ඇති සමානතා හා විෂමතා උදාහරණ සහිතව පෙන්වා දෙමින් හැඳින්වීමක් කරන්න. (ලකුණු 07 යි)

3. (i) (අ) "ආරම්මණ විජානන ලක්ඛණං චිත්තං" යන පාලි පාඨයේ සරල අදහස සිංහලෙන් ලියන්න. (ලකුණු 02 යි)

(ආ) චිත්ත හා චෛතසික අතර පවත්නා වෙන්කළ නොහැකි සබඳතාවේ ලක්‍ෂණ පෙන්වා දෙන්න. (ලකුණු 03 යි)

(ii) සිත් උපදින භූමි වශයෙන් දැක්වෙන මූලික ප්‍රභේද නම් කර, එම භූමිවලට අයත් සිත් සංඛ්‍යාව දක්වන්න. එයින් පළමු භූමිය පිළිබඳව කෙටි සටහනක් ලියන්න. (ලකුණු 06 යි)

(iii) අකුසල චෛතසික රාශියේ දැක්වෙන මෝහ චතුෂ්කයට අයත් චෛතසික පිළිවෙළින් නම් කරන්න. නම් කළ චෛතසික අතුරින් දෙවැනි හා සෙවැනි චෛතසික පිළිබඳව වෙන්වෙන්ව හැඳින්වීම් කරන්න. (ලකුණු 07 යි)

4. (i) (අ) කාමාවචර මහා කුසල සිත් අතුරින් පළමු සහ දෙවැනි සිත් දෙක ලියන්න. (ලකුණු 02 යි)

(ආ) මේ සිත්දෙක අතර පවත්නා මූලික වෙනස්කම උදාහරණයකින් පෙන්වා දෙන්න. (ලකුණු 03 යි)

(ii) කුසල සිත්වල දැක්වෙන "සෝමනස්ස සහගත බව" සහ "ඤාණ සම්ප්‍රයුක්ත බව" ඇතිවීමට බලපාන හේතු වෙන්වෙන්ව දක්වන්න. (ලකුණු 06 යි)

(iii) කාමාවචර මහා විපාක සිත් හා කාමාවචර මහා ක්‍රියා සිත් අතර පවත්නා වෙනස්කම් පෙන්වා දෙමින්, එම සිත් පහළවන පුද්ගලයන් පිළිබඳව පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

5. (i) (අ) ශෝභන රාශියේ චෛතසිකවල මූලික ප්‍රභේද නම් කරන්න. (ලකුණු 02 යි)

(ආ) විරති චෛතසික පිළිවෙළින් නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) විරති චෛතසික මගින් අවධාරණය කෙරෙන සීලය පිළිබඳව විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)

(iii) පුද්ගලයාගේ හා සමාජයේ යහපැවැත්ම සඳහා ශීලයේ ඇති වැදගත්කම උදාහරණ සහිතව පෙන්වා දෙන්න. (ලකුණු 07 යි)

6. (i) (අ) සතර මහා භූත පිළිවෙළින් නම් කරන්න. (ලකුණු 02 යි)

(ආ) මහා භූත රූපවලට අදාළ ලක්‍ෂණ තුනක් පෙන්වා දෙන්න. (ලකුණු 03 යි)

(ii) "ලක්ඛණ රූප" නම් කර, එම රූප පුද්ගල ජීවිත තුළ ක්‍රියාත්මක වන ආකාරය නිදසුන් සපයමින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iii) භෞතික ලෝකය පිළිබඳව පොදු ධර්මතා උදාහරණ සහිතව පෙන්වා දෙමින් අභිධර්මයට අනුකූල වූ හැඳින්වීමක් කරන්න. (ලකුණු 07 යි)

[හතරවන පිටුව බලන්න.

**7.** (i) (අ) "චේතනාහං භික්ඛවේ කම්මං වදාමි" යන පාඨයේ සරල අදහස ලියන්න. *(ලකුණු 02 යි)*

(ආ) කර්ම සිදුකෙරෙන තෙවැදෑරුම් දොරටු නම් කරන්න. *(ලකුණු 03 යි)*

(ii) කර්මය හා කර්ම පථ අතර වෙනස පෙන්වාදෙමින් චුති, ප්‍රතිසන්ධි සහ ප්‍රවෘත්ති විපාක පිළිබඳව විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*

(iii) පුද්ගල ජීවිතයේ පැවැත්ම සඳහා උපස්ථම්භක හා උපපීළක කර්මයන්ගේ බලපෑම සිදුවන ආකාරය පැහැදිලි කරන්න. *(ලකුණු 07 යි)*

**8.** (i) (අ) භාවනාවේ මූලික ප්‍රභේද දෙක නම් කරන්න. *(ලකුණු 02 යි)*

(ආ) "පඨවි කසින මණ්ඩලය" යන්න හඳුන්වන්න. *(ලකුණු 03 යි)*

(ii) භාවනාවේ තෙවැදෑරුම් නිමිති ලෙස සැලකෙන "පරිකම්ම නිමිත්ත" , "උග්ගහ නිමිත්ත" හා "පටිභාග නිමිත්ත" යන අවස්ථා යෝගාවචරයකු තුළ ඇතිවන ආකාරය පිළිබඳව නිදසුන් සහිතව පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(iii) පුද්ගල විවිධතාව දැක්වෙන සවැදෑරුම් පුද්ගල චරිත පිළිවෙළින් නම් කරන්න. එම චරිත අතුරින් පළමු හා දෙවැනි චරිත වර්ග දෙක පිළිබඳව ලක්ෂණ වෙන්වෙන්ව පෙන්වා දෙන්න. *(ලකුණු 07 යි)*

**9.** (i) (අ) "මිච්ඡා පණිහිතං චිත්තං - පාපියෝ නං තතෝ කරේ" යන පාඨයේ සරල සිංහල අදහස ලියන්න. *(ලකුණු 02 යි)*

(ආ) "ආසව" හෙවත් "ආශ්‍රව" යන්න හඳුන්වන්න. *(ලකුණු 03 යි)*

(ii) "මඤ්ඤනාව" යන්න හඳුන්වන්න. මඤ්ඤනාව හේතුවෙන් විෂය ලෝකය ග්‍රහණය කෙරෙන වැරදි ආකාර හතර පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

(iii) "සිත පිරිසිදු වීමෙන් පුද්ගලයාගේ පෞද්ගලික ජීවිතය මෙන්ම සමාජ ජීවිතය ද නිවැරදි වේ." නිදසුන් සපයමින් මේ මතය සනාථ කරන්න. *(ලකුණු 07 යි)*

* * *